බස්නාහිර පළාත් අධ්‍යාපන දෙපාර්තමේන්තුව
மேல் மாகாணக் கல்வித் திணைக்களம்
Department of Education - Western Province

පළමු වාර ඇගයීම
முதலாந்தவணைமதிப்பீடு - 2019
First Term Evaluation

| | | | |
|---|---|---|---|
| ශ්‍රේණිය / தரம் / Grade: 11 | විෂයය / பாடம் / Subject: සිංහල භාෂාව හා සාහිත්‍යය | පත්‍රය / வினாத்தாள் / Paper: I | පැය / மணித்தியாலம் / Hours: 01 |

**සැලකියයුතුයි:**

( i ) සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.මෙම පත්‍රය සඳහා ලකුණු **40කි.**

( ii ) අංක 01 සිට40 තෙක් ප්‍රශ්නවල දී ඇති **1 , 2 , 3 , 4** යන පිළිතුරුවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

( iii ) ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරින් ඔබ තෝරාගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (***x***) ලකුණ යොදන්න.

( iv ) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා,ඒවාද පිළිපදින්න.

---

♦ **අංක 01 සිට 03 තෙක් ප්‍රශ්නවල එක් එක් වාක්‍යයෙහි තද කළු අකුරෙන් මුද්‍රිත කොටසේ අර්ථයට වඩාත් සමීප අර්ථය දෙන උත්තරය තෝරන්න.**

(01) **යල් පැන ගිය** තීන්දු තීරණ ඇතැම් විට යහපත් ඒවා වන්නට ද පුළුවන.

(1) කාලයට නොගැළපෙන (2) යල මහ ඉක්මවා ගිය
(3) නවීකරණය වූ (4) කිසිසේත් ක්‍රියාත්මක කළ නොහැකි

(02) කෙසේ හෝ **ජාං බේරා ගැනීමට**සමහරු සූරයෝ ය.

(1) චරිතය සුරැකීමට (2) විශාල මුදලක් ලබා ගැනීමට
(3) පාඩුවක් නොලබා ගැලවීමට (4)ගත් ණයෙන් නිදහස්වීමට

(03) **ජේත්තුවට** රැවටෙන දරුවෝ වර්තමානයේ විරල වෙති.

(1) දක්ෂතාවට (2) බාහිරඅලංකාරයට
(3) රූපයට (4) මුදලට

• **අංක 04 සිට 06 තෙක් ඇති ප්‍රශ්නවල හිස්තැන්වලට වඩාත් සුදුසු පදය තෝරන්න.**

(04) උපදේශකවරයා ................ සාහිත්‍යයේ ඇතැම් තැන් දක්ෂ ලෙස සිය කථාවට යොදා ගත්තේ ය.

(1) සම්මාන (2) සංක්‍රාන්ති (3) සංස්පීතික (4) සම්භාව්‍ය

(05) 'ස්ටීවන් හෝකින්', ඉතා ඉහළ අලෙවි වාර්තා තැබූ පොත් ................. ඉල්ලීම මත නැවත මුද්‍රණය කිරීමට යුහුසුලු විය.

(1) ශ්‍රාවකයන්ගේ (2) පාඨකයන්ගේ (3) සහෘදයන්ගේ (4) දේශකයන්ගේ

(06) කලාප කාර්යාලය මගින් පාසල් ................. කිරීම සඳහා දිනයන් වෙන් කෙරිණි.

(1) අධීක්ෂණය (2) ප්‍රේක්ෂණය (3) පුනරීක්ෂණය (4) නිරීක්ෂණය

(07) අකාරාදී පිළිවෙළ නිවැරදි ව දැක්වෙන පද පේළිය තෝරන්න.

(1) මාවරමණ්ඩිය,මාතලේ,මාමඩුව,මාරස්සන.

(2) කාගම,කාපිරිගම,කාදිල්ගම,කාලියම්මහර

(3) ආරච්චිකට්ටුව,ආනමඩුව,ආනවිලුන්දැව,ආඩියාගම

(4) රාගම,රාජගිරිය,රාජාංගනය,රාවතාවත්ත

(08) සෑම පදයක ම අක්ෂර වින්‍යාසය නිවැරදි ව යෙදී ඇති පද පේළිය තෝරන්න.

(1) ප්‍රබෝධනය,අර්ථ ධ්වනි,සංඝටනය,වනෝද්‍යානය

(2) ජ්‍යොතිර් විද්‍යාව,විශ්වකෝශය,ඓතිහාසික,පිල්ලම

(3) දුර්භික්සය,උත්කෘෂ්ඨ,දෘශ්‍යාධාර,පෝළිම

(4) සංශෝධනය,හෘදයාබාද,හිරමණය,විදුහල්පතිණිය

(09) එක් එක් වචනයේ දෙවෙනි අකුරෙහි දික් ඇදපිල්ල,දීර්ඝ පාපිල්ල,ඉස්පිල්ල හා ගැට ඇලපිල්ල අනුපිළිවෙළින් යෙදී ඇති වරණය තෝරන්න.

(1) අමාව,අපූරුව,අම්හිරි,කෘදන්ත (2) කැලෑඋණ,අමූලික,ගිලිහෙනවා,ආකෘතිය

(2) කෑදර,සමූලඝාතනය,සිපිරිගෙය,ඍජුකෝණ (4) ඇසෑම්,අසූව,කතිරය,ව්‍යාපාරය

(10) “සලකුණ” යන්න,

(1) උපසර්ගයකි (2) නිපාතයකි (3) තද්ධිතයකි (4) විශේෂණයකි

(11) උක්ත නාම පද පමණක් යෙදී ඇති වරණය තෝරන්න.

(1) ගැහැනිය,අයෙකු,බුදුහු,මාර්ගයෝ (2) ගංගාවෝ,පියාණන්,රියදුරා,ඔව්හු

(3) ඕතොමෝ,යමෙක්,මැණියන් දෑ,ඇතැම්හු (4)තෙරණුවෝ,රීතීන්,ඇතුන්,ගුරුවරු

(12) නාම ප්‍රකෘති හා ධාතු ප්‍රකෘති නිවැරදිව යෙදී නැති වරණය තෝරන්න.

(1) දරු,ගිරා,මිනිස්,නට (2)පිහිට,බල,ගව,මාළු

(3) ලිය,මල්,ගස්,බැවුම් (4)නැගිටී,මොනරු,බලා,කකා

(13) පහත පදවල සාවද්‍ය ප්‍රකාශය කුමක් ද?

(1) ඓක්‍යය,කර්තෘ,සූර්යයා,ප්‍රාසංගික (2)දූරස්ත,විද්‍යමාන,මෛත්‍රී,කල්‍යාණ

(3) රිද්මයාණුකූල,ප්‍රත්‍යාර්ථ,විද්‍යුත්,ස්තුති (4)අවස්ථෝචිත,ව්‍යංග්‍යාර්ථ ,අත්‍යවශ්‍ය,සාමර්ථ්‍යය

- **අංක 14 , 15ප්‍රශ්නවල තද කළු අකුරෙන් මුද්‍රිත කොටසේ අර්ථය නිවැරදි ව දැක්වෙන වරණය තෝරන්න.**

(14) චිරන්තන සාහිත්යික **උක්තීන්** භාවිතයට ගන්නා නූතන සාහිත්‍යකරුවා උත්සාහ ගන්නේ චමත්කාරයක් දැනවීමට ය.

(1) පොත් පත් (2) කියමන් (3) මූලධර්ම (4) උක්ත පද

(15) ජාතික ආදායම කීපදෙනෙක් අත බෙදී යන විට **දරිද්‍රතාව** වැඩිවන බව අමුතුවෙන් කිව යුතු නොවේ.

(1) දුප්පත්කම (2) පොහොසත්කම (3) චිරක්ෂාව (4) නූගත්කම

(16) ඓ,ඖ අක්ෂර දෙක ,

(1) ඝෝෂ ව්‍යංජන ය (2) අන්තඃස්ථ ය (3) වර්ගාන්ත අනුනාසික ය (4) සංයුක්ත ස්වර ය

(17) මුලින් දී ඇති ව්‍යාකරණ ප්‍රවර්ගයට අයත් නොවන පදයක් සහිත වරණය තෝරන්න.

(1) තද්ධිත - දිරිමත්,තොටියා, ස්වර්ණමය, පුදසුන

(2) සන්ධි - බුදුකුරු,මැදැහිල්ල,ගිනියම්,හෙළයෝ

(3) නිපාත - වුකලී,පිණිස,උදෙසා,හෙයින්

(4) පූර්ව ක්‍රියා - නැගිට,ගොස්,බලා,සෝදා

(18) “ ළා සුළඟට සැලෙන ළපලු
ඇසට කනට ගීතයක් ය .
මී දේ දුව ඉසට නැඟුව
ඉඳු නිල්මිණි සේසතක් ය.”

ඉහත පද්‍යයෙහි අඩංගු රූපකයක් හා තද්භව වචනයක් යෙදුණු පේළිය තෝරන්න.

(1) ඇසට,ඉඳු නිල් මිණි (2) ළපලු,සේසත (3)මී දේ දුව,සේසත (4) සුළඟ,දේ දුව

(19) දී ඇති වචන ගොනු අතුරෙන් අන්‍යෝන්‍ය වශයෙන් සමීප කාර්යයන් සමඟ බැඳී නොපවත්නා පද පේළිය තෝරන්න.

(1) ශුක්ල සාරිවා,කෘෂ්ණ සාරිවා,ඉරරාජ,සඳරාජ
(2) රකාරාංශය,රේඵය,යංශය,හ්‍රස්වය
(3) මහගමසේකර,ගුණදාස අමරසේකර,රත්න ශ්‍රී විජේසිංහ,විමල් දිසානායක
(4) පොල්,පුවක්,තල්,කිතුල්

(20) එක් එක් පද පේළියේ දී ඇති පද වලට සමානාර්ථ යෙදුම් පමණක් ඇතුළත් පද පේළිය තෝරන්න.

(1) විද්‍යමාන - පෙනෙන , සාවද්‍ය - නිවැරදි ,මධුර - මිහිරි ,ලඹදෙන - එල්ලෙන
(2) අනුභූතිය - අත්දැකීම , ප්‍රාකාරය - පවුර,මංජරිය - පොකුර , චෛතිය සර - සෑ ගෙය
(3) විපර්යාස - වෙනස්කම්, පෙදෙහි - කවියෙහි, පෙඳ - වත,රියසක - කරත්ත රෝදය
(4) මැදිරිය - කුඩුව,බුද දින - බදාදා දවස, කමලකර - සූර්යයා,පැමිණීම - සම්ප්‍රාප්තිය

(21) මුලින් දී ඇති පදයට සමානාර්ථයක් **නොදෙන** පදයක් ඇතුළත් වරණය තෝරන්න.

(1) සුදු - ශ්වේත,ධවල,හෙළ,එළ
(2) භික්ෂුව - යතිවරයා,හාමුදුරුවෝ,ස්ථවිර,සංඝ
(3) දෙක - යුගල,කුට්ටම,ජෝඩුව,විශද
(4) අනංගයා - මල්සරා,මින්දද,කම්පස,මන්මථ

(22) වැරදි අදහස දෙන ප්‍රකාශය තෝරන්න.

(1) ජ් + ඤ අකුරු දෙක සම්මිශ්‍රණයෙන් සෑදුණු බැඳී අකුරක් වන්නේ ‘ඥ’ ය.
(2) ඍ,ර්,ෂ්, යන මූර්ධජ අකුරුවලට පරව යෙදෙන්නේ මූර්ධජ ‘ණ’ කාරයයි.
(3) ඌෂ්මාක්ෂර සර්ෂ නමින් ද හඳුන්වනු ලැබේ.
(4) ශ,ෂ,ස යන ඌෂ්මන් ශබ්ද සෝෂ ගණයට අයත් වේ.

(23) A ලකුණෙන් B දුං කොළ C කවියා D සත්තු

ඉහත ප්‍රකාශ අතුරින් පූර්ව ස්වර ලෝප හා ආගම සන්ධිවලට අයත් පද සහිත පිළිතුර තෝරන්න.

. (1) A හා C ය. (2) A හා D ය. (3) B හා D ය. (4) B හා C

(24) යුගලඋඩුකොමා,කොමාවනිවැරදිවයෙදීඇතිවරණයතෝරන්න.

(1) “ළමයෝ” උඹට, පිස්සු ද?ආච්චි බෙරිහන් දුන්නා ය.
(2) “ළමයෝ,උඹට පිස්සු ද”?ආච්චි බෙරිහන් දුන්නා ය.
(3) ළමයෝ?උඹට,“පිස්සු ද”ආච්චි බෙරිහන් දුන්නා ය.
(4) “ළමයෝ උඹට පිස්සු ද?ආච්චි,බෙරිහන් දුන්නා ය.”

(25) පහත දී ඇති අක්ෂර ගැළපීමෙන් නිර්මාණය වන ග්‍රන්ථ කර්තෘ නාමය ඇතුළත් වරණය තෝරන්න.

(1) සිපිදා රි න ය සේ ස (2) ස මා කු ග තු නි දා රං මු ව
(3) හ ම ක ම න ග සේ ර (4) ද න් ර හ ත න වී න සිං ග

- **අංක 26 හා 27 ප්‍රශ්න යටතේ දී ඇති ප්‍රස්තාව පිරුළුවලට වඩාත් ගැළපෙන අදහස සහිත වරණය තෝරන්න.**

(26) ඔරුව පෙරළෙන කොට,පෙරළුණු පැත්ත හොඳයි කිව්ව ලු.

(1) දක්ෂ අයට කොතනත් එක වගේ ය.

(2) ඔරුවක යන විට ප්‍රවේශමෙන් ගමන් කළ යුතු බව.

(3) තම අවශ්‍යතා අනුව බුද්ධිමතුන් තීරණ ගැනීම සිදු කරයි.

(4) කළහැකි අනෙක් කිසිවක් නැතිවිට ලැබුණු දේ බාරගැනීම.

(27) ඕනෑකමට කබරගොයත් තලගොයා වෙනව ලු.

(1) අවශ්‍යතාව ඉක්මවා කටයුතු කරයි.

(2) තම ලාභයපිණිස අඩුපාඩු අමතක කරයි.

(3)සමාන ලෙස ප්‍රයෝජනයට ගැනීම ඉතා වැදගත් බව.

(4) යමක් අවශ්‍ය වූ විට කෙසේ හෝ ඉටුකරගැනීම

(28) අසම්භාව්‍ය ක්‍රියාවක් යෙදී ඇති වාක්‍ය තෝරන්න.

(1) නුවරු දන මන බඳිමින් ගායකයෝ ගී ගයති.

(2) පුංචි පුතා වැටි වැටි ඇවිදියි.

(3) පියාණෙනි අප දෙදෙනා වැඳ සමුගත් බව කියන්න.

(4) ඔබ සිටියා නම් කොතරම් හොඳදැයි මට සිතුණි

(29) A - සිංහලයා ඉතා විනීතය.ආගන්තුක සත්කාරයෙහි තත්පරය.ස්වදේශිකයන් හට මෙන්ම කරුණාවෙන් විදේශීන් හටත් සලකන්නේ ය .-රොබට්නොක්ස්-

B - කල දේ වෙනස් කරන මිනිහෙක් නෙමෙයි මම!එහෙම කළොත් මේ රටේ නීතිය පවත්වන්නේ කොහොම ද ? -මං තනන්නෝ-

C - තා දැන් ෂෂ්ටි පුරුෂ මානව වූ වළකින් ගොඩ නැගීම්,තෝ දැන් ඊට වඩා ගැඹුරු මිත්‍ර ද්‍රෝහි නැමැති වළෙක්හි වැටුණේ -මහා කපි ජාතකය-

D - නානාවිධ විහඟ ගණයාගේ මධුර ඣංකාර කුහකුහාරව ගුමුගුමාරවාදීන්.

-රාජාවලිය

ඉහත A,B,C,D යන යෙදුම් අතුරෙන් නිවැරදි යෙදුම් වන්නේ,

(1) A,B හා D ය. (2) B හා C ය. (3) A හා C ය. (4) B,C,D ය.

**අංක 30 හා 31 යටතේ දී ඇති ප්‍රශ්නවල ව්‍යාකරණානුකූල ව නිවැරදි වාක්‍ය තෝරන්න.**

(30) (1) අක්කා ද අම්මා ද මම ද වෙළඳ ප්‍රදර්ශනයට සහභාගී වූහ.

(2) මහගමසේකර ඇති දක්ෂ ගීත රචකයෙකු මෙන්ම ප්‍රකට චිත්‍ර ශිල්පියෙක් ද විය.

(3) ගොවීහු ගොවි ණය ඉල්ලති'යි නිලධාරීහු සිනාසුනහ.

(4) සුළි සුළඟින් ගෙවල් ද විදුලි කණු ද කඩා වැටුණෝ ය

(31) (1) බල්ලෝ කැටුව ගැහැණු මහපාරේ ඇවිදිති.

(2) මත්ද්‍රව්‍ය ජාවාරම්කරුවන් සහ ව්‍යාපාරිකයෝ හොඳින් කා බී සතුටුවෙති.

(3) ඇය මවක් මෙන් කරුණාවන්තය.

(4) ගුරුවරුන් ඒ කටයුත්තට සම්බන්ධ නැත.

(32) A - ගන්න වැටුප .................. වත් සේවය කරන්න.

B - කරන අපරාධවලට ඉර හඳ ................. කම්පා වන්නේ ය.

C - දියුණු වෙමින් තිබුණු ආයතනය නිලධාරීන් ............... කඩා වැටිණි.

D - යහපතක් සිදුවන ................. සටන් කළ යුතු ය.

ඉහත වාක්‍යවල හිස්තැන් පිරවීමට සඳහා වඩාත් යෝග්‍ය නිපාත පද අනුපිළිවෙළ කුමක් ද?

E තුරු F තකා G පවා H නිසා

(1) HFEG (2) HGFE (3) FGEH (4) FGHE

(33) මුල් පදයේ පමණක් අර්ථ ඇති යුගල පද සහිත වරණය තෝරන්න.

(1) අකාමකා,ආතබූත,ආටකනාටක,හාවක්හූවක්

(2) උදව්පදව්,ඉඟිබිඟි,තරහමරහ,වැඩකිඩ

(3)අනවින,කැඩුම්බිඳුම්,හට්ටිමුට්ටි,පවුල්පන්සල්

(4) බොරුබේගල්,මළඉලව්,ගුටිබැට,උයාපිහා

(34) 'පැණි කොමඩු' පද්‍ය පන්තිය,

(1) රුවන් බන්දුජීවගේ ය. (2) ඒ.වී.සුරවීරගේ ය.

(3) රත්න ශ්‍රී විජේසිංහගේ ය. (4) ඩබ්ලිව්.ඒ.අබේසිංහගේ ය.

(35) උපමාවක් සහිත වරණය තෝරන්න.

(1) රසෙයි අමා රසමය ඒ පියස දුට (2) විලිබර ය මගෙ රන්වන් මනාලිය

(3) රිවිබිම්බා සුරු රිවි කුල කමලකර (4) සිටුවා දොර දොර රඹතුරු

(36) සතර දේවාලයන්හි දේවාභරණ වැඩමවන වාහන කුඹල් පෙරහැර ආරම්භ වී පස්වන දිනයෙහි පෙරහැර අගට එක් කෙරෙයි.මේ පෙරහැර හඳුන්වන්නේ,

(1) දවල් පෙරහැර (2) කුඹල් පෙරහැර (3) සිවු දේවාල පෙරහැර (4) රන්දෝලි පෙරහැර

(37) පහත සඳහන් කවියේ තුන්වැනි පදය තෝරන්න.

කුඹුයොන් සයුර බොත එහි මිණි සේ අනත
නුබ කැට තෙලෙහි දිසි මෙන් තුරු පහන් වත
.....................................................................
ඉසි වැනි නිමල් මලි ගිය මල් සිය දිමුත

(1) උදය ගරුක සඳමල් කැනක සිරි ගත (2) පහන් බැවින් පිටතට සස ලෙසින් වත

(3) තර පතරින් සඳදර තර පහර දෙත (4) සැදෑ සඳුට සදමින් මග නිසා කත

(38) ප්‍රාදේශීය භාෂා ව්‍යවහාරයේ දී පියාගේ වැඩිමහල් සහෝදරයා හඳුන්වන නමක් නොවන්නේ කුමක්ද?

(1) ලොකු තාත්තා (2) බක්කම්මා (3) බක්කප්පච්චි (4) මහප්පා

(39) දූද නොද බිඳ බඳ තෙද කඳ... යන කාව්‍යයේ ආකෘතිය වන්නේ,

(1) ගී කාව්‍ය ආකෘතිය යි. (2) සිවු පද කාව්‍ය ආකෘතිය යි.

(3) නිසදැස් කාව්‍ය ආකෘතියයි. (4) සැහැලි කාව්‍ය ආකෘතිය යි.

(40) යම් කතා පුවතක් හෝ සිදුවීමක් ඇසුරෙන් නාට්‍ය පෙළක් නිර්මාණය කිරීමේදී එම කතා පුවතේ හෝ සිදුවීමෙහි ඇති සෑම අවස්ථාවක් ම හෝ සිද්ධියක් ම යොදා ගැනීම සුදුසු නොවන අතර උචිත අවස්ථා පමණක් තෝරා ගත යුතු ය.

(1) නාට්‍ය පෙළක් නිර්මාණය කිරීමේදී එහි අන්තර්ගතය පමණක් යොදා ගත යුතු ය.

(2) නාට්‍ය පෙළට සිදුවීම් අවස්ථා ගැළපෙන ලෙස තෝරා ගත යුතු අතර සෑම අවස්ථාවන්ට සිද්ධියක් ම යොදා ගත යුතු යැයි නියමයක් නැත.

(3) නාට්‍ය රචකයාට තම සිතැගී පරිදි ගැළපෙන අවස්ථා යොදා ගනිමින් සාර්ථක නාට්‍ය නිර්මාණයට නිදහස ඇත.

(4) නාට්‍ය පෙළ නිමැවුමේ දී එහි සෑම අවස්ථා හා සිද්ධි යොදා ගැනීම අවශ්‍ය නොවන අතර ගැළපෙන අවස්ථා යොදා ගැනීම සුදුසු ය. (ල.1 *40=40)

බස්නාහිර පළාත් අධ්‍යාපන දෙපාර්තමේන්තුව
மேல் மாகாணக் கல்வித் திணைக்களம்
Department of Education - Western Province

පළමු වාර ඇගයීම
முதலாந்தவணைமதிப்பீடு - 2019
First Term Evaluation

| | | | |
|---|---|---|---|
| ශ්‍රේණිය / தரம் / Grade: 11 | විෂයය / பாடம் / Subject: සිංහල භාෂාව හා සාහිත්‍යය | පත්‍රය / வினாத்தாள் / Paper: II | පැය / மணித்தியாலம் / Hours: 02 |

**සැලකිය යුතුයි:**

♦ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සපයන්න.මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත ලකුණු ගණන 80කි.

(01)අංක( i )සිට ( x ) දක්වා ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ලියන්න.කිසියම් අනුකොටසකට ඔබ පිළිතුරු **නොලියන්නේ නම් එහි අංකය ලියා ඉදිරියෙන් ඉරක් අඳින්න.**

( i )සිංහල අක්ෂර මාලාවේ ඇතුළත් වන පහත අක්ෂර කාණ්ඩ දෙක ව්‍යඤ්ජන වර්ගීකරණය අනුව නම් කරන්න.

අ) හ , ජ , ඩ , ඳ , ඹ (ආ) බ , ඡ , ඨ , ඵ , ළ

( ii )පහත සඳහන් වාක්‍යයේ වචන දෙකක අක්ෂර වින්‍යාසය සදොස් ය.එම වචන දෙක පමණක් නිදොස් කර ලියන්න.

විශ්වයේ ප්‍රභවය පිළිබඳව ඇතැමුන් ඉදිරිපත් කළ ප්‍රහන්ධ ප්‍රතික්ෂේප වූ නිසා ඔවුන්ගේ ප්‍රයත්න නිෂ්පල වූ බවට ප්‍රවෘත්ති පළ විය.

(අ) .................... (ආ) ..................

(iii) පහත සඳහන් වාක්‍යයේ නාම විශේෂණ පදය හා ක්‍රියා විශේෂණ පදය පිළිවෙළින් ලියන්න.

♦ දක්ෂ දරුවෝ විභාගයෙන් විශිෂ්ට ලෙස සමත් වෙති.

(අ) .................... (ආ) ..................

( iv ) පහත සඳහන් පද සන්ධි කොට ලියා සන්ධි වර්ගය නම් කරන්න.

(අ) නිල් + උපුල් (ආ) මිණි + අබරණ

( v ) පහත දැක්වෙන වාක්‍ය සදොස් වේ නම්,ඒවා නිදොස් කර නැවත ලියන්න.

(අ) ශිෂ්‍යයෝ විවාද තරගයෙන් ජය ගනිති'යි ගුරුවරු සිතුහ.

(ආ) ආරෝග්‍යශාලාවට රෝගීහු පැමිණෙනු ඇත.

( vi ) පහත සඳහන් වචනවල අනුක්ත රූප ලියන්න.

(අ) පුරාවිද්‍යාඥයෝ (ආ) ළමයෙක්

(vii) "අතිදක්ෂ ලෙස ධර්මය දෙසූ අනුනාහිමියන්ට දායකයෝ දහම් පඬුරු පූජා කළහ." යන වාක්‍යයේ ඇතුළත් උපසර්ග පද දෙකක් උපුටා දක්වන්න.

(අ) ......................(ආ) ......................

(viii) දරුවාගේ,ගසෙන් යන පදවල ප්‍රකෘතිය හා ප්‍රත්‍ය වෙන්කර ලියන්න.

(අ) දරුවාගේ (ආ) ගසින්

( ix ) පහත දැක්වෙන කර්මකාරක වාක්‍ය, කර්තෘකාරක වාක්‍ය බවට හරවා ලියන්න.

(අ) දරුවන් විසින් දෙමාපියෝ නමදිනු ලබති.

(ආ) ගායකයන් විසින් රසිකයෝ සතුටට පත් කරන ලදහ.

( x ) ඉරි ඇඳි පදවල අර්ථය ලිහිල් බසින් ලියන්න.

කෙටි කතාවක් නිර්මාණය කිරීම <u>ආකස්මික</u> ව කළ හැකි දෙයක් නොවේ.ඒ සඳහා <u>සතතාභ්‍යාසය</u> අවශ්‍ය ය.

(අ) .......................... (ආ) ..........................

(ල: 2 x 10 = 20)

(02) පහත දැක්වෙන (අ),(ආ),(ඉ),(ඊ) යන විස්තර අතුරෙන් එකක් තෝරාගෙන වචන **250** කට නොඅඩු වන සේ රචනයක්ලියන්න.එක් එක් විස්තරයට මුලින් වරහන් තුළ ඇති අකුර ප්‍රශ්න අංකය සමඟ ඔබේ උත්තර පත්‍රයේ ලියාරචනය ලිවීම ආරම්භ කරන්න.රචනය සඳහා සුදුසු **මාතෘකාවක් ද** යොදන්න.

(අ) ජංගම දුරකථන භාවිතය මේ වන විට බෙහෙවින් ව්‍යාප්ත වී ඇත.ගෝලීයකරණය සමඟ ඇති වී තිබෙන නව විපර්යාස හමුවේ සන්නිවේදන කාර්යය පහසු කිරීමේ ලා මෙවැනි නව තාක්ෂණික මෙවලම් මහෝපකාරී වේ.එහෙත් ඒවා තුළින් අසන්නට දකින්නට ලැබෙන දේවල් කිසිදු තහනමකින් හෝ සීමාවකින් තොරව ලබා ගැනීමට හැකි වීම ඉතාම අභාග්‍ය සම්පන්න තත්ත්වයකි.එබැවින් මෙවැනි විද්‍යුත් මෙවලම් අවිචාරයෙන් පරිහරණය කිරීමෙන් වැළකී මැනවින් තෝරා බේරා ක්‍රියාවට නැංවීමෙන් යහපත් ප්‍රතිඵල ලබා ගත හැකි වේ.

(ආ) කෘෂිකර්මාන්තය අප රටේ අතීතයේ සිට ම පවතින ප්‍රධාන ජීවන ක්‍රමයකි.එය නංවාලීම ජාතික අවශ්‍යතාවකි.එහෙත් අද වන විට කෘෂිභෝග නිෂ්පාදනයේ දී ගොවියාට විවිධ ගැටලුවලට මුහුණ දීමට සිදු වී ඇති බැවින් කෘෂි නිෂ්පාදන දිනෙන් දින පහතට වැටෙමින් පවතී.මේ නිසා වර්තමානයේ සිදු වී ඇත්තේ ආනයනය මගින් ආහාර අවශ්‍යතා සම්පූර්ණ කර ගැනීමයි.එහෙයින් කෘෂිකර්මාන්තය දියුණු කර ගොවීන්ගේ ගැටලු අවම කිරීමට අවශ්‍ය යටිතල පහසුකම් සලසා ගොවීන් දිරි ගැන්විය යුතු කාලය එළඹී තිබේ.

(ඉ) වත්මන් සමාජයේ සිසු දරුවන් තුළ කියවීමේ රුචිය ක්‍රමයෙන් ගිලිහී යන බව අද සමස්ත සමාජයම පිළිගත් මතයකි.ඊට හේතුව කැසට්,වීඩියෝපට,රූපවාහිනිය ඔවුන්ට සමීප වීමයි.දැනුම වේගයෙන් වැඩෙන,පැතිරෙන වර්තමානයේ සෙසු රටවල් හා ඉදිරියට යෑමටත්,විවේකය විනෝදයෙන් හා ඵලදායි අන්දමින් ගත කිරීමටත් පොතපතින් ලැබෙන උපකාරය අතිවිශාල ය.පාසල් අවධියේ සිටම වර්ධනය කර ගත යුතු කියවීමේ රුචිය වැඩි දියුණු කිරීම සඳහා උනන්දු කරවීම ගෙදරටත්,පාසලටත්,රජය ඇතුළු විවිධ සංවිධානවලටත් පැවරෙන මහා වගකීමකි.

(ඊ) ශ්‍රී ලංකාව යනු සංවර්ධනය වෙමින් පවතින රටකි.මෙරට මූල ධනයෙන් වැඩි කොටසක් නිදහස් අධ්‍යාපනය වෙනුවෙන් වැය කරයි.පෙළපොත්,ඇඳුම්,පැළඳුම් නොමිලයේ ම ලැබෙන අතර සමහරුන්ට ශිෂ්‍යාධාර ද ලැබේ.අපේ පාසල්වලට අවශ්‍ය ලී බඩු,විද්‍යා උපකරණ,පුස්තකාල පොත්,ගොඩනැගිලි ආදිය මධ්‍යම රජයෙන් හෝ පළාත් සභාවලින් ලැබේ.මේ සම්පත් උපයෝගී කරගෙන උගතුන්වන බොහෝ දෙනා අපේ මව්බිමට සේවය නොකර විදේශ රටවලට ගොස් තම දැනුම ඒ රටවලට බෙදා දෙති.එය රටේ සංවර්ධනයට මහත් බාධාවකි. ( ල . 25 )

(03) පහත දැක්වෙන ඡේද වචන **50 – 55** අතර වන සේ සාරංශ කොට ලියන්න.ඔබ යෙදූ වචන සංඛ්‍යාව සාරාංශය අග ලියන්න.

ලෝකයේ ඕනෑම භාෂා සාහිත්‍යයක විදග්ධ කවිය පහළ වීමට පෙර ජනකවිය සමාරම්භ වී තිබෙන බව පැහැදිලි ය.ඈත අතීතයේ සිටම අප රටේ ද ජනකවි සාහිත්‍යයක් තිබූ බව ඇල් ගෙවිලියක ගැයූ ගීයක් අසා සැටක් පමණ භික්ෂූන් වහන්සේලා රහත් වූ බව බුද්ධඝෝෂ හිමියන්ගේ සමන්ත පාසාදිකා අටුවාවේ සඳහන්ව තිබීමෙන් පැහැදිලි වෙයි.ජනකවි ලිඛිත සාහිත්‍යයක් වශයෙන් නොපැවතී අතර ඒවා ජනතාවගේ මතකය මත මුඛ පරම්පරාගතව පැවතී බව කිව යුතුය.කාලයෙන් කාලයට භාෂාව හා සාහිත්‍යය වෙනස් වන ආකාරයට ජනකවියද වෙනස් විය.දැනට මුද්‍රිතව පවත්නා ජනකවි එයට පෙරාතුව කෙසේ පැවතියේ ද යන්න නිගමනය කිරීම දුෂ්කර කරුණක් වී තිබේ. කෙසේ වුවත් ජනකවිය විවිධ ප්‍රදේශවල විවිධාකාරයෙන් පැවතීම ස්වාභාවිකය.කෙසේ වෙතත් ජනකවිය නිර්මාණය කළ කවීන් අපට කිසි දිනක දැකිය නොහැක.

කිසියම් වෘත්තියක් පදනම් කොට ගෙන ජනකවිය නිර්මාණය වීමද එහි විශේෂ ලක්ෂණයකි.ජනකවිය නිතරම තර්කයට,බුද්ධියට නොව හදවතට,ශක්තියට සමීප වූයේ ය.තම ජීවිතයේ හද ගැස්ම කවියට නගා ඔහු මිමිණුවේ ය. නිසඟයෙන් අනායාසයෙන් ඔහුගේ මුවින් පිටවුණු ඒ පදවැල් අතර ඔහුගේ දුක,සතුට,සෙනෙහස,කෝපය,හාස්‍යය උපහාසය,බලාපොරොත්තුව ආදී සියලුම හැඟීම් ගැබ්ව තිබිණි.ජනකවියා ජනකවි නිර්මාණය කළේ අනාගත පරපුරකට දැනගැනීම උදෙසා හෝ පදවැල් රචනා කිරීමෙන් තමාට ගෞරවයක් ලැබේ යැයි කියා හෝ නොවේ සිය චිත්තාභ්‍යන්තරයේ ජනිත ව කැකෑරෙන යම් හැඟීමක් නිසා යම් අපහසුතාවයකින් මිදී සැහැල්ලු වීම සඳහා ය.

( ල . 10 )

(04) පහත දැක්වෙන පාඨය කියවා අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

භාෂාව මගින් අසන්නාගේ හෝ කියවන්නාගේ සිතෙහි රසයක් හා චමත්කාරයක් ඇති කරන නිර්මාණ සාහිත්‍ය යනුවෙන් හැඳින් වේ.ඒ අනුව චිරන්තන මෙන්ම නූතන ගද්‍ය,පද්‍ය,නවකතා,කෙටිකතා,නාට්‍ය ආදී නිර්මාණාත්මක කෘති සියල්ල සඳහා පොදුවේ සාහිත්‍ය යන නාමය යෙදේ.

සාහිත්‍ය පරාර්ථය උදෙසා කැපවූවකි.සාහිත්‍යකරුවා තම අදහස් තමා තුළ ම තබා නොගෙන අන්‍යයන් වෙත පමුණුවන්නේ එහෙයිනි.මේ කාර්යයෙහි ලා තිදෙනෙක් දායක වෙති. ඒ ලේඛකයා ,පාඨකයා හා විචාරකයා ය.ලේඛකයා තම මනසට එන අදහස් අපූර්වත්වයෙන් ලේඛන ගත කරයි.එම කාර්යයෙහි ලා ඔහු සතුව පවතින සියුම් බව හා පරිණත බව මත සාහිත්‍ය කෘතියකට අපූර්වත්වය හා නිර්මාණශීලිත්වය පිවිසේ.පාඨකයා සතු රුචිය හෝ පළපුරුද්ද අනුව කියවයි.විචාරකයා කෘතියේ අන්තර්ගතය ගැන විමසා බලයි.එහිදී ඊට අයත් විෂය ක්ෂේත්‍රය , භාෂාව , ශෛලිය හා ආකෘතිය වැනි ලක්ෂණ කෙරෙහි විශේෂ අවධානයක් යොමු කෙරෙයි.

(1) ඡේදයට අනුව සාහිත්‍යය යනු කුමක්දැයි නිර්වචනය කරන්න.

(2) සාහිත්‍ය පරාර්ථය උදෙසා කැපවූවක් බව ලේඛකයා පවසන්නේ කුමක් නිසාද?

(3) සාහිත්‍යකරණය උදෙසා දායකත්වය සපයන පුද්ගලයෝ කවරහු ද?
(4) මෙම ජේදයේ සඳහන් පරිදි සාහිත්‍ය කෘතියකට අපූර්වත්වය හා නිර්මාණශීලිත්වය පිවිසෙන්නේ ලේඛකයා සතු කවර ගුණාංග නිසාද?
(5) ලේඛකයා පවසන පරිදි කෘතියක් විචාරයට ලක්කිරීමේදී විශේෂ අවධානය යොමු කෙරෙන කරුණු මොනවාද?

(05) පහත දැක්වෙන්නේ කිසියම් වෙළඳ දැන්වීමකින් උපුටාගත් කොටස් කීපයකි.

*අප්‍රේල් මාසය තුල 15% වට්ටම් සහිතව ලබාගත හැක.

* ඉංග්‍රීසි , සිංහල ,දෙමළ පාලි සංස්කෘත ආදී විවිධ පොත්

*සතියේ දිනවල උදේ 8.30 සිට සවස 5.30 දක්වා විවෘතයි.

*සෑම ඉරු දිනකම , පොහෝ දිනවල හා වෙළඳ නිවාඩු දිනකම වසා ඇත.

*පොත්වල මිල දර්ශනය ලබා ගන්න.

මේ තොරතුරු ඇසුරු කරගෙන යටිනුවර නගරයේ දෙවන හරස් වීදියෙහි "බුවනෙක" පොත්හල 2019 මාර්තු මාසයේ ප්‍රචාරක කටයුතු සඳහා පිළියෙළ කරන දැන්වීම වචන **100කින්** පමණ ලියන්න.

**නැතහොත්**

මොනර වැව " සෙත්පුර " විද්‍යාලයට වසර 100 ක් පිරිම නිමිත්තෙන් පාසල් පරිසර සංගමය පාසලේ රුක්රෝපණ ව්‍යාපෘතියක් ආරම්භ කිරීමට තීරණය කරගෙන ඇත.ඒ සඳහා අවශ්‍ය උපදෙස් ලබාදෙන මෙන් ඉල්ලමින් මොනර වැව කෘෂි ව්‍යාපෘති නිලධාරිතුමාට යවන ලිපිය ලියන්න.අපේක්ෂිත ශාඛා වර්ග හා උපදෙස් ලිපියේ සඳහන් කරන්න.පාසල් පරිසර සංගමයේ ලේකම් ඔබ යයි සිතන්න

(වචන 100ක් පමණ සෑහේ.)

( ල . 15)

බස්නාහිර පළාත් අධ්‍යාපන දෙපාර්තමේන්තුව
மேல் மாகாணக் கல்வித் திணைக்களம்
**Department of Education - Western Province**

පළමු වාර ඇගයීම
முதலாம் தவணைமதிப்பீடு - 2019
**First Term Evaluation**

| | | | |
|---|---|---|---|
| ශ්‍රේණිය / தரம் / Grade 11 | විෂයය / பாடம் / Subject සිංහල භාෂාව හා සාහිත්‍යය | පත්‍රය / வினாத்தாள் / Paper 111 | පැය / மணித்தியாலம் / Hours 02 |

**සැලකිය යුතුයි:**

*උපදෙස් දී ඇති පරිදි ප්‍රශ්න **පහකට** පමණක් උත්තර සපයන්න.

∗1, 2, 3, 4ප්‍රශ්නවලටත්, 5, 6, 7ප්‍රශ්නවලින් **එකකටත්** උත්තර සපයන්න

* මෙම ප්‍රශ්න පත්‍රයට නියමිත ලකුණු ගණන **80**කි.

---

01). (i) සිට (x) තෙක් ඇති **සියලුම** අනුකොටස්වලට කෙටි උත්තර ලියන්න. කිසියම් අනුකොටසකට ඔබ උත්තර **නොලියන්නේනම්, එහි අංකය ලියා ඉදිරියෙන් ඉරක් අඳින්න.**

(i) (අ) පන්සිය පනස් ජාතක පොත සිංහලයට නගා ඇත්තේ කී වන සියවසෙහි ද?
(ආ) ජාතක කතා අතර දීර්ඝතම කතාව නම් කරන්න.

(ii) (අ) කමත් කවි අයත් වන්නේ කුමන ජනකවි විශේෂයකට ද?
(ආ) කෙළි සෙල්ලම් ඇසුරෙන් නිර්මාණය වූ ජනකවි වර්ගයක් නම් කරන්න.

(iii) (අ) 'වන සරණ','සුදු ගෝනා' යන ග්‍රන්ථවල පරිවර්තකයා කවරෙක්ද?
(ආ) කර්ලිනාහාමි, බබුන් යන චරිත ඇතුළත් වන්නේ කුමන නවකතාවේද?

(iv) (අ) එච්. එම්. කුඩලිගම කවියාගේ ජනප්‍රිය පද්‍ය ග්‍රන්ථය කුමක් ද?
(ආ) සුවඳ, දේදුන්න, මී වදය යනුවෙන් හඳුන්වා ඇත්තේ මොනවා ද?

(v) " දිවි හිමියෙන් මා ඒ වේදනාවෙන් පෙළෙන බව දනිමි."
(අ) මෙහි **මා** යනුවෙන් හැඳින්වෙන්නේ කවුරුන්ව ද ?
(ආ) 'ඒ වේදනාවෙන්' යන්නෙන් අදහස් කරන්නේ කුමක්ද?

(vi)(අ) ජාතිකාභිමානය හා දේශානුරාගය දැනවීමට ඇස්. මහින්ද හිමි රචනා කළ ග්‍රන්ථයක්දක්වන්න.
(ආ) 'ඔවා මුතු' කාව්‍ය කෘතියෙහි විශේෂත්වය කුමක්ද?

(vii)(අ) ගුරුළුගෝමීන් විසින් රචිත'අමාවතුර' ග්‍රන්ථයෙහි අන්තර්ගත පරිච්ඡේදගණනකොපමණද?

(ආ) අමාවතුර රචනා කොට ඇත්තේ කුමන බුදු ගුණයක් මුල් කොට ගෙනද?

(viii) "මට වඩා හොඳින් ඔය ගැන දන්න කෙනෙක් තවත් මෙහෙ නෑ"
(අ) මේ ප්‍රකාශය කවුරුන් සඳහා කරන ලද්දක් ද?
(ආ) මේ පාඨයේ ඇතුළත් '**ඔය ගැන**' යනුවෙන් කියවෙන්නේ කුමක් ගැනද?

(ix) (අ) සද්ධර්මරත්නාවලිය රචනා වූයේ කිනම් රජ දවස ද?
(ආ) උග්ගසේන නම් සිටු පුත්හුගේ වස්තුව සද්ධර්මරත්නාවලියේ එන කී වන කතාවද?

(x) පහත සඳහන් කවියේ ඉතිරි පද දෙක සම්පූර්ණ කරන්න.

තත මතු ද සින්දේ
පිළිමල් දප ද සින්දේ
(අ) ............................................
(ආ) ............................................

(ලකුණු 2 x 10 = 20 යි.)

02). පහත දැක්වෙන ගද්‍ය හා පද්‍ය පාඨ කියවා ඇසා ඇති ප්‍රශ්නවලට කෙටි උත්තර ලියන්න.

(i) අඟුල් මල් නම් සොරෙකැ, දරුණැ, ලෙමුඩුඅත් ඇත්තෙ යැ,සතුන් කෙරෙහි කුළුණු නැත්තේයැ ගම් නොගම් කෙළෙ, නියම් ගම් නොනියම් ගම්කෙළෙ, දනවු නොදනවු කෙළෙ, මිනිසුන් මරා ඇඟිලි විදැ මාලා කොටැ ධරයි.
(අ) මෙය ප්‍රකාශ කරන ලද්දේ කවුරුන් විසින් කා හටද?
(ආ) මේපාඨය හා සම්බන්ධ අවස්ථාව කෙටියෙන් ලියන්න.

(ii) මැගේ මේ අභිමානය මැට වඩා සම්පත් ඇත්තන් ඇති හෙයින් සම්පතක් නිසාත් නොවෙයි තමා ජාති සම්පන්න නො වන හෙයින් ජාතියක් නිසාත් නොවෙයි. රූපත් හෙයින් ඒ හා තමා දන්නා ශිල්ප පමණක් නිසා ය.
(අ) මෙම පාඨයෙහි ඇතුළත් අවස්ථාව කෙටියෙන් ලියන්න.
(ආ) මෙහි දැක්වෙන තැනැත්තියගේ අභිමානයට හේතු වූ කරුණු **දෙකක්** දක්වන්න.

(iii) ජාතික රණ දෙරණ මතේ
ගැටී වැටී මළ මොහොතේ
සුන්දර සුරඹුන්ගෙ අතේ
නැළවෙන බව සිතනු පුතේ

(අ) ඉහත කවියේ සඳහන් ශබ්දාලංකාර **දෙකක්** දක්වන්න.
(ආ) සමස්ත කවියෙහි අර්ථය ලිහිල් බසින් ලියන්න.

(iv) යටැසින් ලන බැල්මෙන් සුර **විලසී**
වෙසෙසින් දන මන මත් කැර **එකසී**
අහසින් බැස රඟ ගත් රඟ කෙලෙසී
දිසි මෙන් විය විදුලිය සිය දහසී

(අ) අංකිත පදවල අර්ථ ලියන්න.
(ආ) විශේෂයෙන් ජනතාවගේ සිත මත් වූයේ කුමක් දැකීමෙන් ද?

(v) ... බෙර ගසව; ගී කියව; **එළසන්, ඔල්වරසන්**, අසුරුසන් දෙව. සියල්ලක් නැති කෙනෙකුට මාගෙන් දෙමි.
(අ) අංකිත පදවල අර්ථ දක්වන්න.

(ආ) ඉහත විධානයන් කිරීමට හේතු වූ කරුණ කුමක් ද?

(ලකුණු 4 x 5 = 20 යි.)

❖ **03,04 ප්‍රශ්නවලට වචන 150 -200 අතර විය යුතු ය.**

03). (i) අවස්ථා හා සිද්ධි නිරූපණයත්
(ii) භාෂාව රසවත් ලෙස යොදා ගැනීමත්

සද්ධර්මරත්නාවලියේ සාර්ථකත්වයට හේතු වී ඇත. නිර්දිෂ්ට කොටසින් එක් කරුණකට උදාහරණ **දෙක** බැගින් දක්වමින් විමසන්න.

**නැතහොත්** (ලකුණු15 යි.)

(i) වර්තමාන සරල වහර
(ii) කාව්‍යමය වියත් වහර

මනාව ගළපා ගන්නනට ගුත්තිල කාව්‍ය කතුවරයා සමත්වී ඇත. එක් කරුණකට නිදසුන් **දෙක** බැගින් දක්වමින් පැහැදිලි කරන්න.

(ලකුණු15 යි.)

04). (i) සරල ජීවන රටාව හා බැඳීමත්
(ii) සංයමයත්

ජන කවියේ විශේෂ ලක්ෂණ වේ. 'හානාහීය පානා අඩහැරෙන් දැනේ' පද්‍ය පන්තිය ඇසුරෙන් එක් කරුණකට නිදසුන් **දෙකක්වත්** දෙමින් පැහැදිලි කරන්න.

**නැතහොත්** (ලකුණු15 යි.)

(i)දරු සෙනෙහස රැඳි සිංහයාගේ චරිතයත්
(ii)තරුණයෙකුගේ අදහස් හා ක්‍රියාකාරීත්වය පිළිබිඹු කරන සිංහබාහුගේ චරිතයත්

නිරූපණයට සරච්චන්ද්‍රයන් දැක් වූ දක්ෂතාව එක් කරුණකට උදාහරණ **දෙක** බැගින් ගෙන පැහැදිලි කරන්න.

(ලකුණු15 යි.)

05) '.අඟුල්මල් දමනය පාඩමෙහි එන **අහිංසක** ගුරු සිත දිනූ ශිෂ්‍යයෙකි'. ඒ සඳහා ඔහු සතු වූ චරිත ලක්ෂණ **තුනක්වත්** දක්වමින් මේ අදහස පැහැදිලි කරන්න.

(ලකුණු10 යි.)

06).'ගංගාවේ සංගීතය සාර්ථක පද්‍ය පංතියකි.' කුඩලිගම කවියා එහි රස නිෂ්පත්තිය සඳහා යොදාගත් කාව්‍යෝපක්‍රම **තුනක්වත්** දක්වමින් මේ අදහස සනාථ කරන්න.

(ලකුණු10 යි.)

07).මහෞෂධ පණ්ඩිතයන්ගේ මහානුභාව සම්පන්න ගුණය වෛදේහ රාජ්‍යයේ ආරක්ෂාවට හේතු වූ බව නිදසුන් **තුනක්වත්** දක්වමින් සාකච්ඡා කරන්න. (ලකුණු10 යි.)